

# හිම දූ කුමරිය



ඉරීනා වලරීයානොව්නා

අනුවාදය
පවනි සඳිත්මා හේරත්



එකෝමත් එක කාලයක ඈත ගම්මානයක මහලු මිනිසෙක් ජීවත් වුණා තමන්ගේ බිරිඳත් සමඟ. ඔවුහු සතුටින් කාලය ගෙවූවා වුණත් එකම එක් කරුණක් නිසා ඔවුන් දුක් වුණා. ඔවුන්ට දරුවන් සිටියේ නැහැ. වසන්ත, සරත්, ගිම්හාන සිසිර ඍතු අතරින් කාලය බොහෝ සෙමින් ගත වෙලා ගියා. මේ විදියට කාලය ගෙවී යද්දී මහලු කාන්තාව පාළුව තනිකම නිසා දුකින් සිටින බව දුටු ඇගේ සැමියා බොහෝ සෙයින් වේදනාවට පත් වුණා. මේ නිසා ඔහු සෑම විටකම ඇයගේ හිත සැනසීම සඳහා වසන්ත කාලයේදී ඇය හා මල් පිරි උයන්වල ඇවිදින්නට, ගිම්හානයේදී හිරු එළිය විඳිමින් විල් තෙරෙහි ගිමන් නිවන්නට සරත් කාලයේදී වියළී හැලෙන තුරු පත් අතරින් ඇවිද යන්නට පුරුදු වුණා.





එක දෙක වැටුණු හිම කැට කෙමෙන් වැඩි වෙමින් ශීත ඍතුව එළැඹුණා. ගම්මානයේ පුංචි ළමයි පාරවල් පුරා හිම මත සෙල්ලම් කරන්න පටන් ගත්තා.



මහලු සැමියා ජනේලයෙන් එළිය බලා තමන්ගේ බිරිඳ ට මෙහෙම කියනවා.

"අපි එළියට ගිහින් හිම වලින් අපිටම කියලා පුංචි දුවක් සාදා ගනිමු. අපි එයාට "හිම දූ කුමරී" කියලා කතා කරමු."





මේ යෝජනාව ගැන බෙහෙවින් සතුටු වූ ඇය හිම කබාය ඇඟලාගෙන ඉක්මණින් සැමියා සමග එළියට ගොස් විශාල හිම බෝලයක් එකතු කරගත්තා.

ඔවුහු එම හිම බෝලය ප්‍රවේසමෙන් හසුරුවමින් ආදරයෙන් අතපත ගාමින් පුංචි ගැහැණු ළමයෙකුගේ ඇඟත්, අත් දෙකත්, කකුල් දෙකත්,ඔලුවත් සැදුවා. ඇස් දෙකත්, දෙතොලත්, නහයත් ලස්සනට නිම කළා. ඔවුන්ගේ මේ හිම දූ කුමරියට පණ ලැබෙයි කියල නම් ඔවුන් කවදාවත්ම හිතුවෙ නැහැ.



ඒත් පුදුම දෙයක් සිද්ධ වුණා! පුංචි හිම දූ කුමරී සෙමින් තම නිල් පැහැයෙන් දිදුලන ඇස් විවර කළා. ඇයගේ දෙතොල් ක්‍රමයෙන් රෝස පැහැ ගැන්වෙන්න පටන් ගත්තා.



මහත් වූ පුදුමයකි! ඇය සෙමින් තම අත් පා සොලවා හිම කුට්ටිය තුළින් එළියට පැමිණියාය. අහිංසක මහලු යුවල බොහෝම සතුටට පත්වුණා.

ඇය තම මහලු දෙමාපියන්ට නිවසේ වැඩවලට උදව් කිරීමට බොහෝ කැමැත්තක් දැක්වූවා.



ශීත කාලයේ සෙමින් ගෙවී යන සවස කාලයන්හිදී ඇය ගී කියමින් සතුටු වුණා.

වසන්ත කාලය පැමිණියා. ඉර හොඳින් පායන, සුන්දර දිනයන් උදාවුණා. හිම මිදුණු තැන්වල තැනින් තැන කොළ පාට තණපත් හිස ඔසවමින් තිබුණා. පරිසරය පුරා සුවඳැති මල් පිපුණා. හැමෝම සතුටු වුණා. එත් හිම දූ කුමරී නම් පසු වුණේ මහත් ශෝකකින්.



"ඇයි හිම දූ කුමරී? ඇයි ඔයා දුකින්?"
මහලු යුවල ඇ වෙත ලංවී ඇසුවා.
"ආ..  නෑ මුකුත් නෑ මම හොඳින්."
හිම දූ කුමරී ඉවත බලමින් දුක සඟවමින් කීවා.



අවසන් හිම තුහින ටිකත් දියවී යමින් තිබුණා. හැමතැන ම මල් පිපිලා. උෂ්ණ රටවල්වලට පියඹා ගිය කුරුල්ලෝ ආපසු ආවා. ඒත් හිම දූ කුමරී නම් වැඩි වැඩියෙන් දුක් වූවාය.

ඇය නිවසට වැටෙන හිරු එළියෙන් හැංගී සිටියාය. එක් දවසක් හිම කැට පුරෝගත් විශාල අඳුරු වළාවක් පාවී ආවේය. හිම කුමරි එය බැලීමට එළියට දිව ගියා.

හිරු එළිය පායා තිබුණෙන් ඒ හිරු එළිය වැදුණු හිම කැට සැණෙකින් දියවී ගියේය. ඇය හඬන්නට පටන් ගත්තා.

ඇයව සනසන්නට ඇගේ මහලු දෙමව්පියෝ විවිධ උත්සාහයන් දැරුවා වුණත් ඇයව සනසන්නට ඔවුන්ට බැරි වුණා.



දිනෙන් දිනම හිම දූ කුමරිය දුකෙන් දුකටම පත් වුණා. හැඬූ කඳුලින්ම දවස ගෙව්වා.

ග්‍රීස්ම ඍතුව ආරම්භ වුණා. සැමදාමත් පුරුදු පරිදි ඒ පැමිණුනේ ගම්වාසීන්ගේ උත්සව සමය.

ඒ සුන්දර ගම්මානයට යාබදව තිබුණේ රුස්ස ගස් කොළන් වලින් පිරුණු වන ලැහැබක්. එම වනය තුල මෙවරත් සුපුරුදු පරිදි ගම්මානයේ වාසය කරන සුන්දර තරුණියන් සහභාගී වන සාදයක් සූදානම් කර තිබුණා.

“හිම දූ කුමරී, එන්න අපිත් එක්ක සිංදු කියලා නටන්න.” හිම දූ කුමරීගේ යෙහෙළියෝ ඇයටත් එයට සහභාගී වන මෙන් ආරාධනා කළා.



ඇය එහි යාමට බොහෝ අකමැති බව පෙන්වා සිටියා. එත් ඇයගේ යෙහෙළියන්ගේ බලවත් ඇවිටිල්ල නිසාම ඇය එම සාදයට සහභාගි වීමට යාම සඳහා සිය මවගෙන් අවසර ඉල්ලා සිටියා.

"ප්‍රවේසමෙන් ගිහින් යාළුවොත් එක්ක සතුටු වෙලා එන්න මගෙ හිම දූ කුමරී" ඇගේ මහලු මව කීවා. ඔවුන් කැළය ඇතුලට ගොස් මල් කඩා, විවිධ පාටවලින් යුත් ඩේසි මල් වලින් මල් මාලා සාදා ගෙලෙහි සහ හිසෙහි පැළඳගත්තා .

හිම දූ කුමරීගේ යෙහෙළියෝ නටමින් සහ ගයමින් විනෝද වුණා. නමුත් ඇය පමණක් ඒ කිසිවකට සහභාගී නොවී නිශ්ශබ්දව දුකින් සිටියා.

සවස් යාමය එළඹෙද්දී ගැහැණු ළමෝ එකතු වී ගස්වල අතු කඩා ඒවා ගොඩ ගසා එය ට ගිනි අවුලුවා එම ගිනි මැළය වටා අත් අල්ලා ගනිමින් නටන්නට වුණා. මෙය තමයි ඔවුන්ගේ සාදයේ ප්‍රීතිමත්ම අවස්ථාව.



ඔවුහු ගිනි මැළයට උඩින් පනිමින් නැටුම වඩාත් උද්වේගකරව රඟ දක්වන්වා. සියලු දෙනා ම දැන් ඉන්නේ  බොහෝ සතුටින්.

එය දෙස බලා උන් හිම දූ කුමරී සිනාසෙන්නට වුණා. ඇයත් එම නැටුම දැකීමෙන් සතුටට පත්වූ බව තේරුම් ගත් යෙහෙළියෝ හිම දූ කුමරීටත් එම නැටුමට ආරාධනා කළා.

මුලදී මහත් ලැජ්ජාශීලිව පසුබාමින් සිටි හිම කුමරී අන්තිමේදී  එම ආරාධනය ආශාවෙන් පිළිගත්තා.

ඔවුන් විසින් සාදන ලද ඩේසි මල් මාලයක්ද හිස පළඳා ගත් ඇය  ගිනි මැළය අසලට සෙමින් නටමින් ලං වුණා.

යෙහෙළියන් කළා සේම ඇය එක්වරම ගිනි මැලයට උඩින් පැන්නා.



එකණෙහිම හිම දූ කුමරී දියවී නොපෙනී ගියා. පුංචි සුදු පැහැ වළාවක් වන් දුම් රොටුවක් ඉහලට පැන නැගී නිල් වන් අහස් කුසට පාවී යනු යෙහෙළියෝ පුදුමයෙන් බලා සිටියා.

එදායින් පසු කිසිමදාක හිම දූ කුමරී කිසිවෙකුටත් හමු වුණේ නැහැ.

